ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**40 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2019 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2019 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2019

**සංගීතය (පෙරදිග) I, II**
சங்கீதம் (கீழைத்தேய) I, II
Music (Oriental) I, II

**2019.12.10 / 0830 - 1140**

**පැය තුනයි**
*மூன்று மணித்தியாலம்*
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.**

## සංගීතය (පෙරදිග) I

**සැලකිය යුතුයි :**

(i) **සියලු ම ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.**

(ii) අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති **(1), (2), (3), (4)** උත්තරවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** උත්තරය තෝරන්න.

(iii) **ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන්, ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**

(iv) එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** පහත සඳහන් රාග අතුරෙන් ශුද්ධ ස්වර සියල්ල ම යෙදෙන රාගය කුමක් ද?
(1) යමන් (2) බිලාවල් (3) කාෆි (4) භූපාලි

**2.** නිර්දේශිත රාග අතුරෙන් මධ්‍යමය හා නිෂාදය වර්ජිත ව යෙදෙන රාගය හා එය අයත් වන මේලය තෝරන්න.
(1) භූපාලි රාගය - බිලාවල් මේලය (2) යමන් රාගය - කල්‍යාණ මේලය
(3) භූපාලි රාගය - කල්‍යාණ මේලය (4) යමන් රාගය - බිලාවල් මේලය

**3.** යමන් රාගයට අදාළ තානාලංකාරයක් ඇතුළත් වරණය කුමක් ද?
(1) නිධ නිරි ගරි සා | ගග රිස නිරි සා | (2) සරි පා ගරි සරි | ගම පම ගරි ස |
(3) ගග පධ සං ධප | සංසං ධප ගරි සා | (4) ධනි සංරිං සංනි ධප | සංනි ධප මග රිස |

**4.** ස ධ ප ධ | ම ප ග ම | නි ධ - ස | - රි ග ම | යන ස්වර පාදයේ,
(1) ග, නි ස්වර කෝමල කළ විට කාෆි රාගයට අයත් සර්ගම් ගී පාදය වේ.
(2) මධ්‍යම ස්වරය තීව්‍ර කළ විට යමන් රාගයට අයත් සර්ගම් ගී පාදය වේ.
(3) රි, ග, ධ, නි ස්වර කෝමල කළ විට භෛරවී රාගයට අයත් සර්ගම් ගී පාදය වේ.
(4) සියලුම ස්වර ශුද්ධ වූ විට බිලාවල් රාගයට අයත් සර්ගම් ගී පාදය වේ.

**5.** ශුද්ධ නිෂාදය විවාදි ව යෙදෙන රාගය කුමක් ද?
(1) කාෆි (2) යමන් (3) බිලාවල් (4) භූපාලි

**6.** රාත්‍රී ප්‍රථම ප්‍රහරයේ ගායනයට/වාදනයට සුදුසු රාග යුගලය දැක්වෙන වරණය කුමක් ද?
(1) යමන්-බිලාවල් (2) භූපාලි-යමන් (3) කාෆි-භෛරවී (4) භෛරවී-කාෆි

**7.** පිළිවෙළින් රාගයක ආරෝහණ අවරෝහණ ස්වර සගමපධනිසං හා සංනිධපමගරිස යනුවෙන් යෙදී ඇති විට එහි රාග ජාතිය වන්නේ,
(1) ඖඩව-සම්පූර්ණ ජාතියයි. (2) සම්පූර්ණ-සම්පූර්ණ ජාතියයි.
(3) ෂාඩව-සම්පූර්ණ ජාතියයි. (4) ෂාඩව-ඖඩව ජාතියයි.

- පහත වගුවේ දැක්වෙන තොරතුරු ආශ්‍රයෙන් අංක **8** සිට **12** දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. මෙම වගුවේ ගායන ශෛලීන් හතරකට අදාළ සංගීතඥයින්ගේ නම් හෝ ප්‍රචලිත ගීතවල ගී පාද ඇතුළත් කර ඇත.

| A | B | C | D |
|---|---|---|---|
| • අමීර් ඛුෂ්රු<br>• සදාරංග<br>• අදාරංග | • තුල්සි දාස්<br>• මීරා බායි | • හමේතො ලූටලියා<br>• ගමේ ගොඩේ සිදාදියේ | • චුප්කේ චුප්කේ රාතදින්<br>• ශ්‍යාමේ හම් කෛසේ සුෂාරී<br>• චිට්ටී ආයිරේ ආයිරේ |

**8.** ඉහත වගුවේ **A, B, C, D** තීරුවලට අදාළ ගායන ශෛලීන් මොනවා ද?
(1) **A**- ඛ්‍යාල්, **B**- භජන්, **C**- කව්වාලි, **D**- ගසල් (2) **A**- භජන් **B**- කව්වාලි **C**- ගසල්, **D**- ඛ්‍යාල්
(3) **A**- කව්වාලි, **B**- ගසල්, **C**- ඛ්‍යාල්, **D**- භජන් (4) **A**- ගසල්, **B**- ඛ්‍යාල්, **C**- කව්වාලි, **D**- භජන්

**9.** විලම්බ ලය හා මධ්‍ය ලය වශයෙන් ගීත ශෛලීන් දෙකක් අයත් වන ගායන ශෛලිය අඩංගු තීරුව කුමක් ද?
(1) **A** තීරුව (2) **B** තීරුව (3) **C** තීරුව (4) **D** තීරුව

**10.** "රඝුපති රාඝව රාජා රාම්" යන ගීතය ඇතුළත් කළ යුතු තීරුව කුමක් ද?
(1) **A** තීරුව (2) **B** තීරුව (3) **C** තීරුව (4) **D** තීරුව

**11.** 'උස්තාද් ගුලාම් අලි, පන්කජ් උදාස්, ජග්ජිත් සිං' යන භාරතීය ශිල්පීන් ඇතුළත් කළ යුතු තීරුව කුමක් ද?
(1) **A** තීරුව (2) **B** තීරුව (3) **C** තීරුව (4) **D** තීරුව

**12.** ජයදේව කවියාගේ 'ගීත ගෝවින්ද' යේ ඇතුළත් ගී වර්ගය සම්බන්ධ වන්නේ,
(1) **A** තීරුවට ය. (2) **B** තීරුවට ය. (3) **C** තීරුවට ය. (4) **D** තීරුවට ය.

**13.** 'සුව දේ මට සීතල සුළඟ පවා', 'මංගලම් ජය මංගලම්' යන ගීතවලට වඩාත් සමීප ගායන ශෛලිය වනුයේ,
(1) භජන් ගායන ශෛලියයි. (2) ගසල් ගායන ශෛලියයි.
(3) ඛ්‍යාල් ගායන ශෛලියයි. (4) කව්වාලි ගායන ශෛලියයි.

- පහත රූපසටහන මගින් තාලයක ආවර්තයක් දැක්වේ. ඒ ආශ්‍රයෙන් අංක **14** සිට **16** දක්වා පිළිතුරු සපයන්න.




**14.** ඉහත ආවර්තයෙන් දැක්වෙන්නේ කුමන තාලය ද?
(1) දාදරා (2) ජප්තාල් (3) ත්‍රිතාල් (4) දීප්චන්දි

**15.** ඉහත තාලයට අදාළ ඨේකාවේ කොටසක් අඩංගු වරණය තෝරන්න.
(1) ධා ධිං ධිං ධා | ධා ධිං ධිං ධා | (2) ධින | ධිධින |
(3) ධ ධිං s | ධා ධා ධිං s | (4) ධගෙනති | නකධින

**16.** ඉහත රූපසටහනේ 1 සහ 3 යන විභාගවලින් එක් මාත්‍රාව බැගින් අඩු වූ විට ගොඩනැගෙන තාලය කුමක් ද?
(1) කෙහෙර්වා (2) දීප්චන්දි (3) ජප්තාල් (4) ත්‍රිතාලය

**17.** සමුද්‍රඝෝෂ විරිතට ගායනය කළ හැකි ගී පාදයක් වන්නේ කුමක් ද?
(1) පැහැසරණිය මිණි පැමිණිය කොත් අගට (2) රූ රැසේ අඳිනා ලෙසේ අත් ලෙල දිදී විදුලිය පබා
(3) මන් මත් කරවන දන මුළු දෙරණා (4) පුන් මදාරා මල් දමින් යුත් දිගු සුනිල් වරලස ගොතා

**18.** +++ | තාස | තත | තාss | තම් | දෙස | තාss | – – | තාස | තෙතස | තම් | ss |
ඉහත තානම අයත් වන්නේ,
(1) තිසරා වන්නමට ය. (2) කෝකිල වන්නමට ය.
(3) පහතරට සින්දු වන්නමට ය. (4) උකුසා වන්නමට ය.

**19.** 'බැත', 'අම්බරුවන්', 'මුදුනා' ආදී පද (වචන) ඇතුළත්, කෘෂි කර්මාන්තය හා සම්බන්ධ ගී විශේෂය කුමක් ද?
(1) නෙළුම් ගී (2) ගොයම් ගී (3) කමත් ගී (4) කුරක්කන් ගී

**20.** ප්‍රශස්ති ගායනාවන්හි අඩංගු සුවිශේෂී ගායන අංගය වන්නේ,
(1) මුදුප්පදයයි. (2) සීරු මාරුවයි. (3) කස්තිරමයි. (4) අඩව්වයි.

**21.** "සේවිත පාද සරෝරුහ සංජිත" යනුවෙන් කවිය නිර්මාණය වී ඇති වන්නම වන්නේ,
(1) උඩරට ගජගා වන්නමයි. (2) උඩරට නෛයඩි වන්නමයි.
(3) පහතරට සින්දු වන්නමයි. (4) සබරගමු කෝකිල වන්නමයි.

- පහත වගුව ඇසුරින් අංක **22** සිට **26** දක්වා ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

| A | B | C | D |
|---|---|---|---|
| නොංචි අක්කා<br>මුදලි<br>ජසයා<br>ලෙන්චිනා | දුටුගැමුණු<br>වෙස්සන්තර<br>පද්මාවතී<br>ශ්‍රී වික්‍රම රාජසිංහ | අන්දරේලා<br>කුස පබාවතී<br>රතු හැට්ටකාරී<br>තාරාවෝ ඉගිලෙති | ඉයුජින්<br>බැලසන්ත<br>හරිශ්චන්ද්‍ර<br>ඇහැලේපොල |

**22.** ඉහත වගුවේ A, B, C, D තීරුවල ඇතුළත් කරුණුවලට අදාළ රංග සම්ප්‍රදායන් මොනවා ද?
(1) A - නාඩගම්, B - කෝලම්, C - නව නාට්‍ය, D - නූර්ති
(2) A - කෝලම්, B - නාඩගම්, C - නූර්ති, D - නව නාට්‍ය
(3) A - නූර්ති, B - නව නාට්‍ය, C - නාඩගම්, D - කෝලම්
(4) A - කෝලම්, B - නූර්ති, C - නව නාට්‍ය, D - නාඩගම්

**23.** වාදනය සඳහා පහතරට බෙරය යොදාගනු ලබන රංග සම්ප්‍රදාය ඇතුළත් තීරුව කුමක් ද?
(1) A තීරුව (2) B තීරුව (3) C තීරුව (4) D තීරුව

**24.** 'B' තීරුවට අයත් නාට්‍ය සංගීතය සඳහා භාවිත කළ සංගීත භාණ්ඩ යුගලය කුමක් ද?
(1) වයලීනය - තබ්ලාව (2) සර්පිනාව - තබ්ලාව (3) සර්පිනාව - ඩෝලය (4) ඩෝලය - තබ්ලාව

**25.** 'C' තීරුවට අයත් නාට්‍ය වර්ග කරනු ලබන්නේ,
(1) නාට්‍ය ධර්මී වර්ගය යටතේ ය. (2) ලෝක ධර්මී නාට්‍ය වර්ගය යටතේ ය.
(3) ශෛලිගත නාට්‍ය වර්ගය යටතේ ය. (4) අර්ධ ශෛලිගත නාට්‍ය වර්ගය යටතේ ය.

**26.** 'D' තීරුවට අයත් නාට්‍ය ඇතුළත් රංග සම්ප්‍රදායට අයත් **නොවන** ගීතාංගයක් වන්නේ,
(1) උරුට්ටුව ය. (2) තෝඩායම ය. (3) ඉන්නිසය ය. (4) දොහොරාව ය.

**27.** 'සුදු සඳ එළියේ', 'ඕලු නෙළුම් නෙරිය රඟාලා' යන ගීත මෙන් ම සුනිල් ශාන්තයන් විසින් තනු නිර්මාණය කරන ලද ගීත ද ඇතුළත් චිත්‍රපටය කුමක් ද?
(1) සැඩ සුළං (2) මාතලන්
(3) රන් මුතු දූව (4) රේඛාව

**28.** ජනප්‍රිය හින්දි චිත්‍රපට ගීතයක් වූ 'තු ගංගා කි මෞජ් මෛ' නම් ගීතය සඳහා පාදක රාගය හා එය අයත් චිත්‍රපටය සඳහන් වරණය කුමක් ද?
(1) අඩානා - ජනක් ජනක් පායල් බාජේ (2) බමාජ් - අභිමාන්
(3) භෛරවී - බෛයිජු බව්රා (4) යමන් - දේව් දාස්

**29.** පහත සඳහන් ගීත අතුරෙන් ඩබ්ලිව්. ඩී. අමරදේවයන් විසින් සංගීතය නිර්මාණය **නොකළ** ගීතය කුමක් ද?
(1) පාරමිතා බල පූරිත පූජිත (2) ගලන ගඟකි ජීවිතේ
(3) පිපී පිපී රේණු නටන (4) සිනිඳු සුදු මුතු තලාවේ

**30.** රබාන, ගිටාරය, එකෝඩියන්, කොංගෝ, බොංගෝ වැනි සංගීත භාණ්ඩ සුවිශේෂී ව යොදා ගනිමින් ගායනය කළ ගීත විශේෂය වන්නේ,

(1) කැලිප්සෝ ගීත ය. (2) නූර්ති ගීත ය.

(3) ග්‍රැමෆෝන් ගීත ය. (4) මුල් යුගයේ සරල ගීත ය.

**31.** A - හෙළ | ජාsතික | අභිමාs | නේsss | ssss |

B - සසර | වසන | තුරුs | sss |

C - ආss රිච්චි | බෝss රිච්චි | කම්බි කුsරු | බෝsල මාsල |

D - සු | නිල් | වන්නු | වන් | යුග,ව | සාs | උතුර| උතු | රාs, ගැ |

ඉහත සඳහන් ගී පද ප්‍රස්තාර අතුරෙන් විෂම ග්‍රහයෙන් පද ප්‍රස්තාර කර ඇති ගී පාද වන්නේ,

(1) A සහ B ය. (2) A සහ D ය.

(3) B සහ C ය. (4) C සහ D ය.

**32.** ම ධ ස් ස්වර තුන එකවර වැයීමේ දී නිකුත් වන කෝඩ් (chord) එක වන්නේ,

(1) G මේජර් ය. (2) F මේජර් ය. (3) D මේජර් ය. (4) C මේජර් ය.

**33.** පහත A හා B රූපසටහන් සලකන්න.



A රූපසටහන



B රූපසටහන

ඉහත A රූපසටහනේ ස්වරයට වඩා B රූපසටහනේ ස්වරය,

(1) තාරතාවයෙන් වැඩි ය. (2) තාරතාවයෙන් අඩු ය.

(3) විපුලතාවයෙන් වැඩි ය. (4) විපුලතාවයෙන් අඩු ය.

**34.** සමූහ වාදනයක දී වයලීනය, සිතාරය, එස්රාජය, බටනලාව ආදී සංගීත භාණ්ඩවල හඬ වෙන් කොට හඳුනාගත හැකි වන්නේ,

(1) විපුලතාවය නිසා ය. (2) තාරතාවය නිසා ය.

(3) ධ්වනි ගුණය නිසා ය. (4) හඬේ සැර නිසා ය.

**35.** 'ස' ස්වරයේ සිට 'ම' ස්වරයේ සංඛ්‍යාතය 3 : 4 අනුපාතය වන විට 'ස' ස්වරයේ සිට 'ප' ස්වරයේ සංඛ්‍යාතය 2 : 3 අනුපාතය වේ. 'ස' ස්වරයේ සංඛ්‍යාතය 240 වන විට 'ම' සහ 'ප' ස්වරවල සංඛ්‍යාත පිළිවෙළින්,

(1) 320 සහ 360 වේ. (2) 360 සහ 320 වේ.

(3) 320 සහ 340 වේ. (4) 340 සහ 360 වේ.

**36.** පෙරදිග සංගීත භාණ්ඩ වර්ගීකරණය අනුව වයලීනය, බටනළාව, ජල තරංගය, තබ්ලාව යන සංගීත භාණ්ඩ හතර අයත් වන්නේ පිළිවෙළින්,

(1) තත්, සුෂිර, ඝන, අවනද්ධ යන වර්ගවලට ය. (2) සුෂිර, ඝන, අවනද්ධ, තත් යන වර්ගවලට ය

(3) ඝන, අවනද්ධ, තත්, සුෂිර යන වර්ගවලට ය. (4) අවනද්ධ, තත්, සුෂිර, ඝන යන වර්ගවලට ය.

**37.**




රූපසටහන 01




රූපසටහන 02




රූපසටහන 03

ඉහත රූපසටහන් 01, 02 සහ 03 මගින් පිළිබිඹු වන (Major) 'කෝඩ්ස්' වන්නේ පිළිවෙළින්

(1) C, F සහ G ය. (2) F, C සහ G ය. (3) C, G සහ F ය. (4) G, F සහ C ය.

**38.** 'ඇදුරුතුමා වන්න මගේ' යන ගීතය ඇතුළත් වන්නේ,
(1) දෙපානෝ ගීත නාටකයේ ය. (2) පේමතෝ ජායතී සෝකෝ ගීත නාටකයේ ය.
(3) කුණ්ඩලකේශී ගීත නාටකයේ ය. (4) මානසවිල ගීත නාටකයේ ය.

**39.** පහත දක්වෙන්නේ මව්-පිය ගුණ ඇතුළත් ගීත ලැයිස්තුවකි.
A - ගමට කලින් හිරු මුළුතැන් ගෙට වඩනා
B - අන්දර යායේ වැව් තාවල්ලේ
C - අම්මා සඳකි මම ඒ ලොව හිරුය රිදී
D - දුනුකෙයියා මලක් වගේ දුරට පෙනෙනවා
මෙම ගීත අතුරෙන් මව් ගුණ පිළිබඳ කියැවෙන ගීත ඇතුළත් වරණය තෝරන්න.
(1) A සහ B (2) B සහ C
(3) C සහ D (4) D සහ A

**40.** Sound forge, Adobe Audition, Acid pro යන මෘදුකාංග යොදා ගත හැකි වන්නේ,
(1) අන්තර්ජාලයෙන් සංගීතය පිළිබඳ විෂය කරුණු සොයා ගැනීමට ය.
(2) MIDI ඇතුළත් සංගීත කොටස් නිර්මාණය කර ගැනීමට ය.
(3) විද්‍යුත් විශ්ව කෝෂ ඇසුරෙන් සංගීතය පිළිබඳ තොරතුරු සොයා ගැනීමට ය.
(4) ගායනය, වාදනය ඇතුළත් ගීතයක් පටිගත කර ගැනීමට ය.

* *

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය - 2019 දෙසැම්බර්.**

**සංගීතය (පෙරදිග) - II**

**ලකුණු දීමේ පටිපාටිය**

**සෑම ප්‍රශ්නයකටම ලකුණු 12 බැගින් ප්‍රශ්න 5 ට මුළු ලකුණු 60 කි.**

---

1. අංක (i) සිට (iv) තෙක් අසා ඇති ප්‍රශ්නවලට කෙටි පිළිතුරු ප්‍රශ්න අංකය ද සමගින් ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

   (i) "සරිගරිස-, සරිගපගරිස-" යනු නිර්දේශිත රාගයකට අයත් ස්වර අභ්‍යාසයක මුල් ස්වර ඛණ්ඩ දෙකකි. මෙම ස්වර අභ්‍යාසයේ ඊළඟට යෙදෙන ස්වර ඛණ්ඩය ලියන්න.

   (ii) "සරිගමපධනිස්" යන ස්වර සමග 'රිගමධනි' යන විවාදී ස්වර පහක් යෙදෙන රාගයේ නම කුමක් ද?

   (iii) 'ගයමු වයමු රසය බෙදමු මියැසි රස පෙරා' මෙම ගී පාදය ප්‍රස්තාර කිරීමේ දී පැහැදිලි ව පෙනෙන තාල ලක්ෂණය අනුව, පහසුවෙන් ප්‍රස්තාර කළ හැකි වන්නේ කුමන තාලය මත ද?

   (iv) 'ඒ බුදු බව පතමින ලොබිනේ' යන නාඩගම් ගී තනුවට අනුව 'මෑ වේ මා දුටු කොමළ ලියා' යනුවෙන් ගීතයක් නිර්මාණය වී ඇත්තේ කුමන නව නාට්‍යයේ ද?

- අංක (v) සිට (viii) තෙක් හිස්තැන් සඳහා නිවැරදි පිළිතුරු ප්‍රශ්න අංකය ද සමග ඔබේ පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

   (v) 'සිරි බුද්ධගයා විහාරේ', 'මහ බෝධි මුලේ' යන ගීත නම් කරනුයේ ...................... ගීත වශයෙනි.

   (vi) ගුවන් විදුලි සරල ගීතයට මුල් අඩිතාලම සැකසුවේ ...................................... සූරීන් ය.

   (vii) ගැල් ගී, පැල් ගී, පාරු ගී යන ගීත විශේෂ තාලයකින් තොර ව ගයනු ලබන නිසා ඒවා ........................ මෙහෙ ගී වශයෙන් හැඳින්විය හැකි ය.

   (viii) 'හෙළ ගී මග' නමින් පර්යේෂණ ග්‍රන්ථයක් ඉදිරිපත් කරමින් දේශීය ජන සංගීතයේ උන්නතියට දායක වූ සංගීතඥයෙක් ලෙසට ............................... සූරීන් අගය කළ හැකි ය.

- අංක (ix) සහ (x) හි දක්වා ඇති රංග සම්ප්‍රදායන් සමග ගැළපෙන කරුණු **දෙක** බැගින් වරහන් තුළින් තෝරා අදාළ ප්‍රශ්න අංකය ද සමගින් පිළිතුරු පත්‍රයෙහි ලියන්න.

   (පසන්, සබේ විදානේ, කෙහෙර්වා, අලගනායිඩු, විශ්වනාත් ලව්ජි, තානායම් පොළ)

| | | |
|---|---|---|
| (ix) නාඩගම් | ................................ | ................................ |
| (x) නූර්ති | ................................ | ................................ |

**පළමුවන ප්‍රශ්නය අනිවාර්ය වේ.**

1. අංක ( i ) සිට ( iv ) දක්වා අසා ඇති ප්‍රශ්න වල කෙටි පිළිතුරු සඳහා ලකුණු 01 බැගින් ලකුණු 05 යි.

   ( i.) '' **, . /wew/ . ,=**

   ( ii.) **භෛරවී රාගය**

   ( iii.) ''**දාදරා තාලය.**

   ( iv.) ''**මනමේ**

   අංක ( v ) සිට ( viii ) දක්වා ප්‍රශ්න වල දී ඇති හිස්තැන් සඳහා ලකුණු 01 බැගින් ලකුණු 5 යි.

   ( v.) ''**ග්‍රැමෆෝන් ගීත**

   ( vi.) ''**ආනන්ද සමරකෝන්** ''

   ( vii.) **.අනාසාතාත්මක මෙහෙ** ගී

   ( viii.) **ඩබ්ලිව්.බී. මකුලොලුව**

- අංක ( ix ) සහ ( x ) හි දක්වා ඇති රංග සම්ප්‍රදායන් සමග ගැලපෙන කරුණු දෙක බැගින් වරහන් තුලින් තෝරා ප්‍රශ්න අංකය ද සමගින් පිළිතුරු පත්‍රයෙහි ලිවීමට **ලකුණු 2 බැගින් 4 යි.**
  ( පසන්, සබේ විදානේ, කෙහෙර්වා, අලගනායිදු, විශ්වනාත් ලව්ජි, තානායම් පොළ. )
  එක් පිළිතුරක ඇති කොටස් දෙක මාරු වී තිබිය හැකිය.

( ix.) නාඩගම් **පසන් - අලගනායිදු**

( x.) නූර්ති **කෙහෙර්වා - විශ්වනාත් ලව්ජි**

**2.** පහත දැක්වෙන ස්වර ඛණ්ඩ ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A - නිසගම, ධ-ප-, මගරිස-

B - නිරිගරිස-, නිධනිරිගරිස-

(i) ඉහත දැක්වෙන ස්වර ඛණ්ඩ අයත් වන රාග **දෙක** පිළිවෙළින් නම් කරන්න.

(ii) ඉහත ස්වර ඛණ්ඩවලට අදාළ රාග දෙකෙන් **එක්** රාගයක් තෝරා ගෙන, ඊට අයත් මධ්‍යලය ඛ්‍යාල් ගීතයක ස්ථායි අන්තරා කොටස් ගීත ස්වර ප්‍රස්තාර කරන්න; **නැතහොත්** වාදිතයක ස්ථායි අන්තරා කොටස් ප්‍රස්තාර කර ඊට උචිත මාත්‍රා අටකට නො අඩු තානාලංකාර දෙකක් තාලානුකූල ව ප්‍රස්තාර කරන්න.

(iii) ඔබ තෝරා ගත් රාගයට අදාළ ව ආරෝහණ, අවරෝහණ, වාදි, සංවාදි යන රාග විස්තර සපයන්න.

2. පහත දක්වෙන ස්වර ඛණ්ඩ ඇසුරින් අසා ඇති ප්‍රශ්න වලට පිළිතුරු සැපයීමට.

A. j,;q"3=w="q;l,="

B. m./.,=" mnm./.,="

**( i.)** ඉහත දක්වෙන ස්වර ඛණ්ඩ අයත් රාග නම් කිරීමට. **ලකුණු** 02 යි.

**A. භෛරවී රාගය.**

**B. යමන් රාගය**

( ii.) භෛරවී හෝ යමන් රාග දෙකින් එකක මධ්‍යලය ඛ්‍යාල් ගීතයක ස්ථායි අන්තරා කොටස් ගීත ස්වර ප්‍රස්තාරය හෝ වාදිතයක් ස්ථායි කොටස ප්‍රස්තාර කර මාත්‍රා අටකට නොඅඩු තානාලංකාර දෙකක් තාලානුකූලව ප්‍රස්තාර කිරීම ලකුණු 08 යි.
( මධ්‍යලය ගීතයේ ස්වර ප්‍රස්තාරය සඳහා ලකුණු 06 ක් ද, පද ප්‍රස්තාරයට ලකුණු 02 ක් ද වශයෙන් වෙන්කර ගත හැකිය. පදමාලාව නිවැරදිව ප්‍රස්තාර කළ අදාල රාගයට අයත් මධ්‍යලය ගීතයක සෑම තැනකම නිවැරදිව ස්වර සංඥා යොදා නොමැති නම්

මුලු ලකුණු 02 කි. ඉදහිට ස්වර සංඥා ලකුණු කිරීම අමතක කර ඇත්නම් උපරිම ලකුණු 04 කි. කිසිම ස්වර ප්‍රස්තාර කොටසක් නොමැතිව පද පමණක් ප්‍රස්තාර කළ පිළිතුරකට ලකුණු හිමි නොවේ.

වාදිතයක් ලෙස ස්වර පමණක් ප්‍රස්තාර කර ඇත්නම් තානාලංකාර දෙකක් ද තාලානුකූලව ප්‍රස්තාර කර දැක්වීමෙන් මුලු ලකුණු 08 ක් හිමි වේ. තානාලංකාර තාලානුකූල නොවේ නම් ලකුණු 01 ක් අහිමි වේ. රාගයට අදාල ස්වර ප්‍රස්තාරයේ හා තානාලංකාර දෙකේ සෑම තැනකම ස්වර සංඥා යොදා නැත්නම් උපරිම ලකුණු 02 කි.

( iii.) රාග විස්තර සැපයීමට ( ආරෝහණ, අවරෝහණ, වාදි, සංවාදී, මුඛ්‍යාංගය, ගානසමය, )
එක්කොටසකට ලකුණු 0½ බැගින් කොටස් 06 ට ලකුණු 03 යි.

---------------

**මුලු ලකුණු 12 යි.**

---------------

| රාග විස්තර | භෛරවී රාගය | යමන් රාගය |
|---|---|---|
| ආරෝහණ | , l ; q w 3 4 t | , . / 2 w e r t |
| අවරෝහණ | t 4 3 w q ; l , | t r e w 2 / . , |
| වාදී | Qq | / |
| සංවාදී | , | r |

**3.** පහත වගුවේ දැක්වෙන තොරතුරු ආශ්‍රයෙන් පිළිතුරු සපයන්න.

(i) A, B, C ස්වර ප්‍රස්තාර කොටස් අයත් වන රාග නම් කර, ඒ ඉදිරියෙන් එම ප්‍රස්තාර කොටස්වලට අදාළ තාල නම් කරන්න.

| | ස්වර ප්‍රස්තාර කොටස | රාගයේ නම | ප්‍රස්තාරයට අදාළ තාලයේ නම |
|---|---|---|---|
| A | ස රි / ගු - ම / ප ප / ප - ප /<br>ම ප / නි - නි / ධ ධ / ප - ප / | | |
| B | ග - රි / ස - ස රි / ග ප ධ / ප - - - /<br>ග ප ධ / ස් - ධ ප / ග - රි / ස - - -/ | | |
| C | ග ප ම ග / ම රි ස - / ස ග ම රි / ග ම ප - /<br>ග - ම රි / ග ප ධ නි / ස් නි ධ ප / ම ග රි ස / | | |

(ii) A, B, C ස්වර ප්‍රස්තාර කොටස්වලට අදාළ තාලවලට අයත් ශේකා මාත්‍රා සහ තාල සංඥා දක්වමින් ප්‍රස්තාර කරන්න.

(iii) ඉහත රාගවලට අයත් සර්ගම්වල ස්ථායි කොටස් ස්වර ප්‍රස්තාර කරන්න.

3. පහත වගුවේ දැක්වෙන තොරතුරු ආශ්‍රයෙන් පිළිතුරු සපයන්න.

( i.) A,B,C, ස්වර ප්‍රස්තාර කොටස් අයත් වන රාග නාමයන් ලියා, ඒ ඉදිරියෙන් එම ප්‍රස්තාර කොටස් වලට අදාල තාලයේ නම ලිවීමට.

එක් පිළිතුරකට ලකුණු භාගය බැගින් පිළිතුරු කොටස් 6 ට - ලකුණු 03 යි.

| | ස්වර ප්‍රස්තාර කොටස | රාගයේ නම | ප්‍රස්තාරයට අදාල තාලයේ නම |
|---|---|---|---|
| A | , . ? ; = q ? w w ? w = w ?<br>q w ? 4 = 4 ? e e ? w = w ? | **කාෆි රාගය** | **ඣප් තාලය** |
| B | / = . ? , = , . ? / w e ? w = = = ?<br>/ w e ? t = e w ? / = . ? , = = = ? | **භූපාලි රාගය** | **දීප්චන්දි තාලය** |
| C | / w q / ? q . , = ? n m , . ? / . , = ?<br>/ = q . ? / w e r ? e w q / ? q . , = ? | **බිලාවල් රාගය** | **ත්‍රිතාලය** |

( ii.) A,B,C, ස්වර ප්‍රස්තාර කොටස් වලට අදාල ඣප් තාලය, දීප්චන්දි තාලය, සහ ත්‍රිතාලයට අයත් යේකා තාලවලට අයත් යේකා මාත්‍රා සහ තාල සංඥා දක්වමින් ප්‍රස්තාර කිරීමට

ලකුණු 03 යි.

( තාලා සංඥා යොදා නැත්නම් ලකුණු ½ බැගින් අඩු වේ. )

( iii.) ඉහත රාග වලට අයත් සර්ගම් වල ස්ථායි කොටස් ස්වර ප්‍රස්තාර කිරීමට ලකුණු 06 යි.

---------------

**මුලු ලකුණු 12 යි.**

---------------

A. 4 e q ? w ; . ? , . ; ? q w = ?
w e q ? w t 4 ? e w q ? ; . , ?

, , . . ? ; ; q q ? w = = q ? w e 4 t ?
4 e w q ? ; = . = ? . w q w ? q ; . , ?

B. t t e w ? / . , . ? / = w / ? e w / = ?
/ w e t ? y t e w ? / w e w ? / . , = ?

C. / w e r ? t = e w ? q / q . ? , . , = ?
/ = q . ? / w e r? t r e w ? q / . , ?

t r ? e r ? t = ? t y ? t r ? e w ?
q / ? q . ? / q ? w / ? q . ? , = ?
m , ? / . ?, m ?n n ? , = ? . , ?
/ q ? / . ? / q ? w / ? q . ? , = ?

4. (i) පහත රූපසටහන්වලින් දැක්වෙන සංගීත භාණ්ඩ හඳුනාගෙන පිළිවෙළින් නම් කරන්න.



රූපසටහන 01



රූපසටහන 02

(ii) පහත (අ) සහ (ආ) කොටස් අතුරෙන් **එකකට** පමණක් පිළිතුරු සපයන්න.

(අ) රූපසටහන **01** හි අංක 1 සිට 8 දක්වා ලකුණු කර ඇති ස්වර නියමිත ස්වර සංඥා සමග අංක පිළිවෙළට ලියා **A** සිට **D** දක්වා කොටස් නම් කරන්න.

(ආ) රූපසටහන **02** හි අංක 1 සිට 8 දක්වා ලකුණු කර ඇති අවනද්ධාක්ෂර සහ **A** සිට **D** දක්වා කොටස් නම් කරන්න.

(iii) ඉහත (ii) කොටස සඳහා ඔබ තෝරාගත් සංගීත භාණ්ඩය වාදනයට සුවිශේෂී වන භාරතීය සංගීතඥයකු පිළිබඳ කෙටි විස්තරයක් සපයන්න.

(i) පහත රූප සටහන් වලින් දැක්වෙන සංගීත භාණ්ඩ නම් කිරීමට ලකුණු 02 යි.
රූප සටහන 01 සිතාරය. රූපසටහන 02 තබ්ලාව.



රූප සටහන 01



රූප සටහන 02

( iv.) පහත (අ) සහ (ආ) කොටස් අතරින් එකකට පිළිතුරු සැපයීමට ලකුණු 06 යි.

(අ) රූප සටහන 01 හි අංක 1 සිට 8 දක්වා ලකුණු කර ඇති ස්වර නියමිත සංඥා සමග අංක පිළිවෙළට ලියා A සිට D දක්වා කොටස් නම්කිරීම.

(ආ) රූප සටහන 02 හි අංක 1 සිට 8 දක්වා ලකුණු කර ඇති අවනද්ධාක්ෂර සහ A සිට D දක්වා කොටස් නම්කිරීම.

(අ) ස්වර සහ කොටස් නාම.

1. b
2. n
3. m
4. ,
5. .
6. /
7. q
8. w

A. මේරු
B. කුංඩී
C. පර්දා
D. තුම්බා

(ආ) අවනද්ධාක්ෂර සහ කොටස් නාම.

1. ග (ගෙ)
2. කත්,
3. නා (තා)
4. තිං (ති)
5. ධා
6. ධිං,
7. ති,
8. ට.

A. ස්‍යාහි
B. ලවය.
C. චාන්ටි.
D. බද්ධි.

(iii) ඉහත ii කොටසට ඔබ තෝරා ගත් භාණ්ඩයට සුවිශේෂී වන භාරතීය සංගීතඥයෙක් පිළිබඳ කෙටි විස්තරයක් සැපයීමට ලකුණු 04 යි.
( මුලු ලකුණු ලැබීමට ජීවන තොරතුරු, නිර්මාණ හෝ කළ සේවාව පිළිබඳ කරුණු දක්වා තිබිය යුතුය. )

- රූප සටහන 01. කොටසට පණ්ඩිත් රවිශංකර් ,
- රූප සටහන 01.කොටසට උස්තාද් ශකීර් හුසේන්.

--------------------

**මුලු ලකුණු 12 යි.**

--------------------

- **රවිශංකර්**

- 1920 අප්‍රේල් මස 7 දින ඉන්දියාවේ බරණැස් නුවර දී උපත ලැබීම.
- සම්පූර්ණ නම රවීන්ද්‍ර ශංකර් චෞද්රි
- " පණ්ඩිත් " යන ගෞරව නාමය ලැබීමෙන් පසු පණ්ඩිත් රවි ශංකර් නමින් ප්‍රකට වීම.
- සත්‍යජිත් රායි ගේ චිත්‍රපටවල පසුබිම් සංගීතය නිර්මාණයෙහි නිරත වීම.
- 1949 සිට 1956 දක්වා ඕල් ඉන්දියා (all india ) ගුවන් විදුලි සේවාවෙහි සංගීත අධ්‍යක්ෂක ලෙස සේවය කිරීම.

- 1960 දී යෙහුදි මෙනුහින් නම් සුප්‍රකට වාදකයා සමග බීට්ල්ස් සංගීත කණ්ඩායමේ ගිටාර් වාදකයා වූ ජෝර්ජ් හැරිසන්ස් සමග බටහිර සංගීතය සමග තම සිතාරය මුසුකරමින් ප්‍රසංග ඉදිරිපත් කිරීම.
- ඉන්දීය සංගීතය පිළිබඳව ආරාධිත දේශකයකු ලෙස කැලිපෝනියා සරසවියේ සේවය කිරීම.
- My music and my life – 1968, Learning Indian music – 1979 , නාදමාලා - 1997 යන කෘති රචනා කරමින් මතු පරපුරට දායාද කිරීම.
- 1999 දී ඉන්දියාවේ ඉහළම ගෞරව සම්මානය වන භාරතරත්න නාමයෙන් පිදුම් ලැබීම.
- 1970 - 1980 දශක වලදී මෙතුමා බටහිර සංගීතය සමග සිතාරය මුසු කරමින් වාදක මණ්ඩලය සඳහා සංගීත රචනා කරමින් එම කණ්ඩායම් සමග ලෝ වටා සංචාරයෙහි යෙදීම.
- එතුමාගේ අරමුණ වී ඇත්තේ ඉන්දියානු සංගීතය ලෝ පුරා ප්‍රචලිත කිරීමය.

➢ **උස්තාද් ශකීර් හුසේන්.**

- 1951 මාර්තු මස 09 දින ඉන්දියාවේ මහා මහාරාෂ්ට්‍ර ප්‍රදේශයෙහි මුම්බායි නගරයේ දී උපත ලැබීම.
- පණ්ඩිත් රවි ශංකර් ගේ සිතාර් වාදනය සමග තබ්ලා වාදනයේ යෙදුන උස්තාද් අල්ලා රක්බා මෙතුමාගේ පියා වීම.
- කුඩා කල සිටම දක්ෂ තබ්ලා වාදකයෙකු ලෙස ජනප්‍රිය වීම.
- මොහු තබ්ලා වාදකයෙකු මෙන්ම, සංගීත නිර්මාණකරුවෙකු (Track) හා නළුවෙකු ද වීම.
- " පද්ම ශ්‍රී " සම්මානයෙන් පිදුම් ලැබීම.
- 1991 දී සංගීත ඇකඩමිය මගින් පිරිනමන ලද " සංගීත් නාටක් " නම් සම්මානයෙන් පිදුම් ලැබීම.

5. (i) පහත සඳහන් ගැමි ගී පාද අදාළ වර්ගය අනුව වෙන් කරමින් පහත වගුව සම්පූර්ණ කරන්න.
- දුම්බර කන්ද පාමුල මිනිරන් පතලේ
- රන් ඇකැති ගෙන නිති සැරසෙනවා
- එක පඳුරෙන් ලී සයක් කපා ගෙන
- අතට වෙරළු ඇහිඳ ගෙනේ
- බුද්ධං සරණේ සිරස දරා ගෙන
- ඉහළ වෙලේ තියෙන බැතා
- තන්ඩලේ දෙන්නා දෙපොලේ දක්කනවා

| | ගැමි ගී වර්ගය | නිර්මාණයට පදනම් වූ හේතු සාධක | ගීයේ විශේෂත්වය | නිදර්ශන ලෙස ගැමි ගී පාද |
|---|---|---|---|---|
| A | මෙහෙ ගී | | අනාසාතාත්මක | |
| | | | ආසාතාත්මක | |
| B | සමාජ ගී | | කෙළි ගී | |
| | | | දරු නැළවිලි ගී | |
| C | බැති ගී | | තුන් සරණේ ගී | |

(ii) ඔබ කැමති වන්නමක කවියක හෝ ප්‍රශස්තියක මුල් කොටස ලියා දක්වන්න.

(iii) වන්නම් හෝ ප්‍රශස්ති අතුරෙන් **එක්** වර්ගයක් තෝරාගෙන එම ගී වර්ගයේ සුවිශේෂ ලක්ෂණ ඇතුළත් කෙටි සටහනක් පිළියෙල කරන්න.

( i.) පහත සඳහන් ගැමි ගී පාද අදාල වර්ගයට වෙන්කරමින් පහත වගුව සම්පූර්ණ කිරීමට ලකුණු 05 යි.

| | ගැමි ගී වර්ගය | නිර්මාණයට පදනම් වූ හේතු සාධක | | නිදර්ශන ලෙස ගැමි ගී පාද |
|---|---|---|---|---|
| A. | මෙහෙ ගී | **ගැමියාගේ ජීවනෝපාය ක්‍රම, ( වෘත්තීන්, )** | අනාසාතාත්මක | • **දුම්බර කන්ද පාමුල මිනිරන් පතලේ.**<br>• **තන්ඩලේ දෙන්න දෙපොලේ දක්කනවා.** |
| | | | ආසාතාත්මක | • **රන්දෑකැති ගෙන නිති සැරසෙනවා.**<br>• **ඉහළ වෙළේ තියෙන බැතා.** |
| B. | සමාජ ගී | **විනෝදාස්වාදය හා සමාජීය අවශ්‍යතා** | කෙළි ගී | • **එක පඳුරෙන් ලී සයක් කපා ගෙන.** |
| | | | දරුනැලවිලි ගී | • **අතට වෙරලු ඇහිඳ ගෙනේ.** |
| C. | බැති ගී | **ඇදහිලි හා විශ්වාස** | තුන්සරණේ ගී | • **බුද්ධං සරණේ සිරස දරාගෙන** |

**( ii.)** ඔබ කැමති වන්නමක කවියක් හෝ ප්‍රශස්තියක මුල් කොටස ලියා දැක්වීමට **ලකුණු 02 යි.**

**( iii.)** වන්නම් හෝ ප්‍රශස්ති අතරින් එක්කොටසක් තෝරා ගෙන එම ගී විශේෂයේ සුවිශේෂ ලක්‍ෂණ ඇතුළත් කෙටි සටහනක් පිළියෙළ කිරීමට **ලකුණු 05 යි.**

---------------

**මුලු ලකුණු 12 යි.**

-----------------

**වන්නම් වල සුවිශේෂි ලක්‍ෂණ**

- සේ ගී විශේෂයක් වීම.
- කර්ණාටක සංගීතයේ ආභාසය ලැබීම.
- මහනුවර 'කවිකාර මඩුව' ආශ්‍රයෙන් නිර්මාණය වීම.
- 'තානම' යනුවෙන් සුවිශේෂ කොටසක් අන්තර් ගත වීම.
- සප්‍රාණික මෙන්ම අප්‍රාණික වස්තු ද වර්ණනා කිරීම.
- 'ගණිතාලංකාර' නම් දක්ෂිණ භාරතීය සංගීතඥයාගේ සහය ලැබීම.
- උඩරට, පහතරට හා සබරගමු වශයෙන් වර්ග වීම.
- උඩරට වන්නම් ගණනින් 18 ක් වීම.
- තානම, කවිය, කස්තිරම, සීරුමාරුව හා අඩව්ව යනුවෙන් කොටස් පහකින් යුක්ත වීම.
- ප්‍රධාන තාල වාද්‍ය ලෙස ගැටබෙරය යොදා ගැනීම.
- ගායන විශේෂයක් වුවත් පසු කාලීනව නර්තනයට එකතු වීම.

ප්‍රශස්ති

- සේ ගී විශේෂයක් වීම.
- කර්ණාටක සංගීතයේ ආභාසය ලැබීම.
- මහනුවර 'කවිකාර මඩුව' ආශ්‍රයෙන් නිර්මාණය වීම.
- කෝට්ටේ යුගයේ දී ආරම්භ වුවත් වර්ධනය හා ව්‍යාප්තිය මහනුවර යුගයේ දී සිදුවීම.
- මුද්‍රප්පදය යනුවෙන් සුවිශේෂ කොටසක් අන්තර්ගත වීම.
- පුද්ගල වර්ණනා පමණක් ඇතුලත් වීම.
- ගණිතාලංකාර නම් දක්ෂිණ භාරතීය සංගීතඥයාගේ සහය ලැබීම.
- ප්‍රධාන තාල වාද්‍ය භාණ්ඩ ලෙස රබන්, පන්තේරු, උඩැක්කි භාවිත වීම.
- ගායන ශෛලියක් වුවත්, පසුකාලීනව නර්තනය ද එකතුවීම.
- සප්තක තුනම ඇසුරු කිරීම.

**6.** පහත දැක්වෙනුයේ සරල ගීතයකට අයත්, අපරදිග ස්වර ප්‍රස්තාර කොටසකි.



(i) ඉහත අපරදිග ස්වර ප්‍රස්තාර කොටස පෙරදිග ක්‍රමයට පෙරලා ප්‍රස්තාර කරන්න.

(ii) ඔබ විසින් ප්‍රස්තාර කළ පෙරදිග ප්‍රස්තාර කොටස පහත සඳහන් කොටස් එක් කරමින් ව්‍යවහාරික සංගීත ප්‍රස්තාර කොටසක් ලෙස සංවර්ධනය කරන්න.

- පළමු විභාග හතරට Repetition Mark යොදන්න.
- සෑම විභාගයක් මත ම ස්කේලයට අදාළ ව කෝඩ්ස් (Chords) යොදන්න.
- ප්‍රස්තාර කොටසේ අගට සහ මුලට Sign to Sign යොදන්න.

(iii) ඉහත පෙරදිග ස්වර ප්‍රස්තාරය මධ්‍යම භාවයට (F-Major Scale) පෙරලා ප්‍රස්තාර කරන්න.

6. පහත සඳහන් අපරදිග ප්‍රස්තාර කොටස සරල ගීතයකින් තෝරාගත් කොටසකි.



(i) ඉහත අපරදිග ප්‍රස්තාර කොටස පෙරදිග ක්‍රමයට පෙරලා ප්‍රස්තාර කිරීමට **ලකුණු 04**

/ w w ? / w = ? q e e ? q e = ? r r w ? r r y ? t = = ? rt er w

?

(ii) ඔබ විසින් ප්‍රස්තාර කළ පෙරදිග ප්‍රස්තාර කොටස පහත සඳහන් කොටස් එක් කරමින් ව්‍යවහාරික සංගීත ප්‍රස්තාර කොටසක් ලෙස සංවර්ධනය කිරීමට ලකුණු 06 යි.

B. පළමු විභාග හතරට Repetition Mark යෙදීමට ලකුණු 01.

C. සෑම විභාගයක් මත ම ස්කේලයට අදාල ව කෝඩ්ස් (Chords ) ලකුණු 04.

D. ප්‍රස්තාර කොටසේ අගට සහ මුලට Sign to Sign යොදන්න. ලකුණු 01.

(iii) ඉහත ප්‍රස්තාරය මධ්‍යම භාවයට ( F- Major Scale ) පෙරලා ප්‍රස්තාර කිරීමට **ලකුණු 02 යි**

--------------------
**මුළු ලකුණු 12 යි.**
-----------------

මධ්‍යම භාවයට ( F- Major Scale )

| | | | |
|---|---|---|---|
| e t t | e t = | 4 y y | 4 y = |
| u u t | u u o | i = = | ui yu t |

**7.** පහත සඳහන් මාතෘකා අතුරෙන් **තුනක්** තෝරාගෙන උදාහරණ දක්වමින් කෙටියෙන් පැහැදිලි කරන්න.
(i) මුල් යුගයේ ගුවන් විදුලි සරල ගීත හා සංගීත ක්ෂේත්‍රය තුළ දී එම නිර්මාණකරුවන් දැක්වූ දායකත්වය
(ii) ශ්‍රී ලංකා ගුවන් විදුලිය ආශ්‍රිත ව ගොඩනැගුණු කණ්ඩායම් ගීතවල සාධනීය ලක්ෂණ
(iii) සර්පිනාවක් භාවිතයේ දී එය දිගු කාලයක් රැක ගැනීම සඳහා අවධානය යොමු කළ යුතු කරුණු **හෝ** සර්පිනාවක වාදන නිපුණතාවය වර්ධනය කර ගැනීම සඳහා ගත යුතු ක්‍රියාමාර්ග
(iv) උතුරු ඉන්දීය චිත්‍රපට සංගීතයේ රාගධාරී පසුබිම
(v) වයලීනය පිළිබඳ තොරතුරු ඇතුළත් දෘශ්‍ය උපකරණයකට අඩංගු කළ යුතු කරුණු

7. පහත සඳහන් මාතෘකා අතරින් තුනක් තෝරා ගෙන උදාහරණ දක්වමින් කෙටියෙන් පැහැදිලි කරන්න.

(i) මුල් යුගයේ ගුවන් විදුලි සරල ගීත හා නිර්මාණ කරුවන්ගේ දායකත්වය.

(ii) ශ්‍රී ලංකා ගුවන් විදුලිය ආශ්‍රිතව ගොඩ නැගුණු කණ්ඩායම් ගීතවල සාධනීය ලක්‍ෂණ.

(iii) සර්පිනාවක ව්‍යුහය හා එහි ගුණාත්මක බව රැක ගැනීමට අවධානය යොමු කළ යුතු කරුණු.

(iv) උතුරු ඉන්දීය චිත්‍රපට සංගීතයේ රාගධාරී පසුබිම.

(v) වයලීනය පිළිබඳ තොරතුරු ඇතුළත් දෘශ්‍ය උපකරණයක් සකසන අයුරු.

එක් කොටසකට ලකුණු 04 බැගින් කොටස් 3 ට මුළු **ලකුණු 12 යි.**

පහත දැක්වෙන තොරතුරු සියල්ල පිළිතුරකට අඩංගු විය යුතු නැත. පරීක්‍ෂක වරයාගේ ප්‍රයෝජනය සඳහා ය.

(i) මුල් යුගයේ ගුවන් විදුලි සරල ගීත හා සංගීත ක්‍ෂේත්‍රය තුළ දී එම නිර්මාණකරුවන් දැක්වූ දායකත්වය

- ආනන්ද සමරකෝන්, සුනිල් සාන්ත,සූරිය ශංකර් මොල්ලිගොඩ, ආර්.ඒ.චන්ද්‍රසේන, එඩ්වින් සමරදිවාකර, අමරදේව, දේවාර් සූරියසේන, සරණ ගුප්ත අමරසිංහ, වැනි සංගීතඥයින්ගේ සංගීතමය දායකත්වය
- එන්නද මැණිකේ මමත් දියඹටා, පොඩි මල් එතනෝ, විලේ මලක් පිපිලා , පුංචි සුදා කිරිකැටියා, බැස සීතල ගඟුලේ, පුදමු මේ කුසුම්, සුමනෝ පොඩි සුමනෝ, කරුණා නදියේ පැද නාමූ, ඇසේ මධුර ජීවනයේ ගීතා, සිරි සරු සාර කෙතේ, සුනිල ගුවනේ පායා දිලෙන්නේ, මන රංජන දර්ශනීය ලංකා වැනි ගීත ( ආනන්ද සමරකෝන්)

- ඕලු පිපීලා, ලංකා ලංකා, මිහිකත නලවාලා, හෝ ගා රැල්ල බිඳේ, දියගොඩ සැම තැන, වරෙන් හීන් සැරේ, බෝවිටියා දං, එම්බා ගංගා, ඉදිරියටම යව්, අම්බලමේ පිනා, සුවඳ රෝස මල්, වැනි ගීත (සුනිල් සාන්ත)
- අක්කේ අක්කේ අර බලන්නකෝ, උදේම පිබිදෙන මලේ, (සූරිය ශංකර් මොල්ලිගොඩ)
- දස බල ධාරී, ( ආර්.ඒ.චන්ද්‍රසේන )
- ආර්.ඒ.චන්ද්‍රසේනයන් විසින් ගුවන් විදුලිය සඳහා තනු නිර්මාණය කළ ගීත :-
    - මෝහෙන් මුලාවෙලා - වික්ටර් රත්නායක
    - ළිඳෙන් වතුර බීලා - වික්ටර් රත්නායක
    - පුන් සඳෙන් රැස් ගං තෙරෙන් - වික්ටර් රත්නායක
    - සෙව්වන් දියකට පෙම් බැන්දා - පුන්සිරි සොයිසා
- එඩ්වින් සමරදිවාකරයන් ගේ ගුවන් විදුලි මෙහෙය
    - 1952 ඔක්තෝම්බර් මාසයේ සිට 1959 ඔක්තෝම්බර් මාසය දක්වා පුරා සත් අවුරුද්දක් ගුවන් විදුලි වාදක මණ්ඩලයේ වාද්‍ය වෘන්ද ප්‍රධානියා ලෙස කටයුතු කිරීම.
    - දක්ෂ සිතාර් සහ දිල්රුබා වාදකයෙකු වීම.
- ආනන්ද සමරකෝන් ගී පද හා තනු නිර්මාණයෙන් දායක වීම.
- ආනන්ද සමරකෝන් වංග සංගීත ආභාසයෙන් දේශීය ආරකට නිර්මාණයෙන් දායක වූ අතර සුනිල් සාන්ත වංග හා බටහිර ආභාසයන් මුල්කොටගෙන දේශීය ආරකට නිර්මාණයෙන් දායක වීම.
- 

(ii) ශ්‍රී ලංකා ගුවන් විදුලිය ආශ්‍රිත ව ගොඩනැගුනු කණ්ඩායම් ගීතවල සාධනීය ලක්ෂණ

- ස්පාඤ්ඤ සංගීතයේ ඇසුර ලැබීම.
- කණ්ඩායම් ගීත සංගීතයේ නිර්මාතෘවරයා ලෙස නෙවිල් ප්‍රනාන්දු ගේ දායකත්වය,
- ගී තනු සංකීර්ණ නොවීම.
- සීමිත ස්වර පරාසයකින් යුක්ත වීම.
- එකම තනුව නැවත නැවත ඇසෙන අයුරින් ගලපා තිබීම.
- නර්තනශීලී රිද්ම ලක්ෂණයකින් යුතු වීම.
- මූලික කෝඩ්ස් දෙකක් හෝ තුනක් හෝ අනුව තනු නිර්මාණය වී තිබීම.
- සැම විටම සුසංවාද (හාර්මනි) ක්‍රමයන්හි භාවිතය.
- ස්පැනිෂ් ගිටාර්, ගයිරෝ, මර්කාස්, කොංගෝ සහ බොංගෝ ඩ්‍රම්ස්, වයලින් යන සංගීත භාණ්ඩ ගීත සඳහා භාවිත කිරීම.
- 

(iii) සර්පිනාවක් භාවිතයේ දී එය දිගු කලක් රැක ගැනීම සඳහා අවධානය යොමුකළ යුතු කරුණු,

- පරිහරණයේ දී ඉතාමත් සැලකිල්ලෙන් හා පරිස්සමින් භාවිත කළ යුතු වීම.
- ස්වරයක හඬ නිරන්තරයෙන් නිකුත් කරවීම සඳහා යතුරු ඔබා තැබීමෙන් හා ඊට අදාළ කම්බි හා දුනු නැවීමෙන් කම්බියේ ආතතිය දුර්වල විය හැකිය.
- සුලං ඇතුල් කිරීමේ දී හා පිට කිරීමේ දී නියමිත ක්‍රම වේදයම අනුගමනය කිරීමට සැළකිලිමත් වීම.
- වාදනය නොකරන අවස්ථාවන්හී දී බැලෝව පරිහරණය නොකිරීම.
- වාදනය අවසන් කිරීමේ දී බැලෝවේන් සැපයුණු සුලං ඉවතට පිට කර බැලෝව වසා තැබීම.
- නාද නිකුත් කරවීම සඳහා අදාළ ස්ටෝපර්ස් ( Stoppers) නිසි පරිදි විවර කර ගැනීමට සැළකිලිමත් වීම.
- යතුරු සිදුරු ආවරණයේ දුහුවිලි, කුඩා කඩදාසි කැබලි වැනි අපද්‍රව්‍ය තැන්පත් වීම පිළිබඳව අවධානය යොමු කිරීම මගින් අනවශ්‍ය හඬ නිකුත්වීම් වලක්වා ගැනීම.

➢ **සර්පිනාවේ වාදන නිපුනත්වය වර්ධනය කර ගැනීම සඳහා ගත යුතු ක්‍රියා මාර්ග**

- අතැඟිලි නිවැරදිව භාවිතය හා වේගයෙන් හැසිරවීමට පුහුණුව
- බැලෝව නිවැරදිව හැසිරවීම.
- ස්වර අභ්‍යාස, විවිධ ස්වර රටාවන්, රාග විස්තාර, ලය ප්‍රභේදයන් ආදි කරුණු පිළිබඳ සතත අභ්‍යාසය.
- ස්වරස්ථාපන ආදී ගීත වාදනය.
- රාගධාරී 'ගත් ' වාදනය

(iv) උතුරු ඉන්දීය චිත්‍රපට සංගීතයේ රාගධාරී පසුබිම

- උතුරු ඉන්දීය චිත්‍රපට සංගීතයේ රාගධාරී පසුබිම සඳහා 50 දශකය වැදගත් වීම.
- පණ්ඩිත් රවි ශංකර්, නෞෂාඩ්, එස්.ඩී.බර්මන්, ශංකර් ජායිකිෂන්, මදන් මෝහන්, ශ්‍රී රාම චන්ද්‍රන් වැනි සංගීතඥයින්ගේ දායකත්වය ලැබීම.
- රාගධාරී පසුබිමින් යුත් චිත්‍රපට අතර කොහිනූර්, බයිජු බව්රා, ජනක් ජනක් පායල් බාජේ, මධුමතී වැනි චිත්‍රපට.
- මොහමඩ් රාෆි, ලතා මංගේෂ්කාර්, මන්නාඩේ, ආශා බෝන්ස්ලේ, අශෝක් කුමාර් වැනි ගායක ගායිකාවන්ගේ දායකත්වය
  උදා:- තෙරේ මේරේ (අබිමාන් - ඛමාජ්), මේරේ මන්කි (සංගම්- භෛරවී), මධුබන මෙරාජිකා ( කොහිනූර් - හමීර්,) තු ගංගා කී මෞජ මෙ ( බව්ජි බව්රා - භෛරවී )

(v) වයලීනය පිළිබඳ තොරතුරු ඇතුළත් දෘශ්‍ය උපකරණයකට අඩංගු කළ යුතු කරුණු

- වයලීනයේ කොටස් නම් කිරීම.
- වාදන ඉරියව් දැක්වෙන පින්තූරයක්
- සුසර කර ගන්නා ආකාරය.
  - පෙරදිග ක්‍රමය :- ප ස ප ස හෝ ම ස ප ස (හින්දුස්ථානී)
    ස ප ස ප (කර්ණාටක)
  - අපරදිග ක්‍රමය :- ප රි ධ ග
  - ව්‍යවහාරික (ගුවන් විදුලි වාදක මණ්ඩලය ආශ්‍රිතව) ම ස ප රි / ප ස ප රි
- වාදනයේ නිපුනත්වයක් දක්වන දෙස්, විදෙස් වාද්‍ය ශිල්පීන් :-

( පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා පිළිතුරට ඇතුළත් වේ යැ යි සැළකිය හැකි කරුණු )






වයලීනයේ කොටස් නම්කරමු.
Relative Sizes
Bridge
F Holes
Chin Rest
Nut
Scroll
Fingerboard
Neck
Tailpiece
Body
Strings
Tuning Pegs

## වයලීනය

1. වයලීනයේ තත් සුසර කිරීම (Tuning) සඳහා යොදා ගනු ලබන ලී ඇණ = Peg (පෙග්)

2. ස්වර නිපදවා ගැනීම සඳහා ඇඟිලි තබන පුවරුව. finger board (ෆිංගර් බෝඩ්)

3. වයලීනය වාදනය සඳහා රඳවා ගැනීමේදී නිකට තබන කොටස. Chinrest (චින් රෙස්ට්)

4. තත් සුසර කරන ලී ඇණ සවිවී ඇති පෙට්ටියක් හැඩය ගත් කුහරයක් සහිත කොටස. peg box (පෙග් බොක්ස්)

5. වයලීනයේ හිසත් (Head) කඳත් (body) අතර ඇති බෙල්ලකට සමානව දිගටි කොටස. Neck (නෙක්)

6. වයලීනයේ මුදුනෙහි ඇති දඟරයක් හැඩය ගත් කොටස scroll (ස්ක්‍රෝල්)

7. හඬ නිපදවීම සඳහා භාවිත ලෝහ කම්බි string (තත්)

8. සුසර කරන ඇණවලට සවි වී ඇති තතෙහි (String) මුල කෙළවර සවි වී ඇති කළු වර්ණය ගත් කොටස. Tailpiece (ටේල්පීස්)

9. සුසර කරන ඇණ සවි වී ඇති පෙට්ටියක් වැනි කොටසත් ඇඟිලි තබන කොටසේ ආරම්භයත් අතර ඇති ගැට්ටක් වැනි කුඩා ලී කොටස. Nut (නට්)

10. ස්වර නිෂ්පාදනයේදී ඇඟිලි තබන පුවරුව හා තත් හි මුල රඳවා ඇති කොටස අතර ඇති වර්ණ නොගැන්වූ, තත් රැඳ වීම සඳහා පාලමක්සේ උපකාරී වන කොටස. Bridge (බ්‍රිජ්)

11. වයලීනයේ කුහරය තුළ හටගන්නා නාදය පිටතට ගලා ඒම සඳහා ඇති F අකුරට සමාන සිදුර. F Hole (එෆ්හෝල්)

12. තත් හි මුල රඳවා ඇති කුඩා කොටස සවිව ඇති බොත්තමක් හැඩය ගත් කොටස. End Pin (එන්ඩ් පින්)

13. වයලීන් තත්හි මුල රැඳවීමට හා ඉතා සියුම් ලෙස සුසර කිරීමට භාවිත ලෝහමය උපකරණ Fine Tuners / Adjuster (ෆයින් ටියුනර් / ඇජස්ටර්ස්)

## බෝව

1. තත් මත පිරි මදින කෙඳි (මෙය නයිලෝන් හෝ අශ්වයින්ගේ වළිගයේ ඇති කෙඳි භාවිතයෙන් නිෂ්පාදනය කර ඇත.) = Bow Hair (බෝ හෙයාර්)

2. බෝවේ මුල පිහිටි කෙඳි සවිව ඇති කුඩා පෙට්ටියක හැඩය ගත් කොටස. Frog (ෆොරොග්)

3. කෙඳි තද කරන බුරුල් කරන ඇණය. End Screw (එන්ඩ් ස්කුර්)

4. කෙඳි සවිවී ඇති බෝවේ අග තුඩක හැඩය ගත් කොටස. Tip / Bow Point (ටිප් / බෝ පොයින්ට්)

5. බෝව නිපදවා ඇති ලීය. = Stick (ස්ටික්)

6. වාදනයේ දී බෝව අල්ලනු ලබන මුල කොටසේ වටේට කම්බියක් ඔතා ඇති කුඩා කොටස. Bow Grip (බෝ ග්‍රිප්)

සුසර කරන ක්‍රම

| සංගීත සම්ප්‍රදාය | $G^{4th}$ | $D^{3rd}$ | $A^{2nd}$ | $E^{1st}$ |
|---|---|---|---|---|
| හින්දුස්ථානී ශාස්ත්‍රීය සංගීතය 1 | ප̣ | ස | ප | ස̇ |
| හින්දුස්ථානී ශාස්ත්‍රීය සංගීත 2 | ම̣ | ස | ප | ස̇ |
| හින්දුස්ථානී සරල සංගීතය | ම̣ | ස | ප | රි̇ |
| කර්ණාට සංගීතය | ස̣ | ප̣ | ස | ප |
| බටහිර සංගීතය | ප̣ | රි | ධ | ග̇ |




මීට අමතරව වයලීන වාදනය පිළිබඳ ප්‍රචලිත භාරතීය අපරදිග හා ශ්‍රී ලාංකික සංගීතඥයන්ගේ නම් වට්ටෝරුවක් දෘෂ්‍ය උපකරණයේ අන්තර්ගත කොට තිබිය හැකිය.